කෝර්නේ චුකොව්ස්කි



# අපූරු කතා

ටෙලිෆෝනය
චිත්‍ර: වි.කොනෂෙවිච්

•

අවුසද හාමි
චිත්‍ර: වි.සුතේයෙව්

•

කාටත් පාඩමක්
චිත්‍ර: අ.කනෙව්ස්කි

•

නැතිවුණු හිරු
චිත්‍ර: යූ.වස්නෙට්සොව්



සී/ස ප්‍රගති ප්‍රකාශන නිවස
91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08



# ටෙලිපෝනය

ටෙලිපෝනය හඬ දෙන්නේ!
"හලෝ!"
"කව්දෝ මා අමතන්නේ?"
"අලියා"
"කොහොමද දැන් වැඩ කටයුතු?"
"වැඩි වරදක් නෑ කිය යුතු"
"කොහේ ද දැන් ඔබ ඉන්නේ?"
"ඔටුවල-නුගගස් තැන්නේ"
"කොයි හරියෙ ද? කොතැනද තැන?"
"නරි වීදිය, නොම්මර තුන"
"මොනවත් ඔබ හට ඕනැද?"
"සූකිරිහෙම තියෙනවාද?
පොඩි එකාට තේ වතුරට,
සිතුනා කැටයක් දෙන්නට!"
"රාත්තලක් දෙකක් ඇද්ද?"
"අපෝ! හොණ්ඩර දෙක තුනක් නැද්ද?
එක කටකට සෑහෙන්නට,
ඒ ඇති මගෙ පොඩි එකාට!"

**2**

නැවතත් ටෙලිපෝනය නද දෙන්නා,
කිඹුලා ගොත ගසමින් පවසන්නා:
"යාළුවෙ මට පොඩිපහේ උදව්වක්,
කෙරුවාත් එවනව කදිම තෑග්ගක්!

මගෙ මහගේටයි, දුවටයි ගැළපෙන,
ලස්සන සපත්තු ටිකක් එවනවද?"

"කඩේ තිබුණු ඉස්තරම්ම ඒවා,
ගිය සතියේ මම දුසිමක් එව්වා!
සපත්තු දොළහක් දින දෙක තුනකට,
ගෙවෙන්නෙ කොහොමද කියපන්කෝ මට!"

"ආ! ගිය සිකුරාදා ඔබ එව් ඒවා,
හරි සතුටින් අපි ඔක්කොම කෑවා!

ආදර මිතුරේ ඉන්නේ අපි දැන්,
සපත්තු කුට්ටම් සිහිනෙන් දකිමින්!

රෑ කෑමට ඒවා පංකාදුයි,
පොඩි එවුනුත් මගෙ හොඳටම කැමතියි!

රබර් අඩිය ඇති සපත්තු දුසිමක්,
එව්වොත් හදනව රස ඇති කෑමක්!"



3

අල්ලපු වත්තේ පොඩි හා පැටියා,
මේස් එවන්නැයි ඉල්ලා හිටියා.

සත්තු වත්තෙ චිම්පන්සියො දෙන්නා,
පොත් දෙකකට ඕඩරයක් දුන්නා.

4

බූරු හාමිනේ කතා කරනවා,
කන් අඩි පිපිරෙයි කියා සිතෙනවා!

"යාළුවෙ මොනවට බෙරිහන් දෙනවද?
මා බීරෙක්වත් කියලා හිතුවද?"

කොච්චර කිව්වත් නැහැ තේරෙන්නේ,
බූරු හඬින්මයි තවම දොඩන්නේ!
"මූ-මූ-බූ-බූ-මා-මා-බා-බා,"
ටෙලිපෝනය මා ආපසු තිබ්බා!

## 5

"නරිවැල්දෙනියේ ගොහොරු මඩිත්තෙන්,
කොක් අප්පුයි මේ කතා කරන්නේ.
මැඩියන් කාලා මා ඉස්මුරුතෙන්,
බේතක්වත් නැහැ ගන්නට දන්නේ!"

## 6

"වතුර කඩිත්තේ හිටගෙන ඉඳලා,
පොඩ්ඩට සීතල සන්නිය හැදිලා!
අපි දෙන්නම ලෙඩ ඇඳටම වැටිලා,
බෙහෙතක් දෙනව ද කරුණාකරලා?"

"ඉබි පිහාටු හතරක් අර ගන්නේ,
කිඹුල් කඳුළුවල ගලගා ගන්නේ,
කෝඳුරු තෙල් ගෙන මුසු කර බොන්නේ,
ලෙඩදුක් එක මොහොතින් දුරු වන්නේ!"



## 7

"වලස් හාමිනේ මොකද බය වෙලා?"
"කොටි රාළට හිරි වාතය හැදිලා!"
"මම නම් හිතන්නෙ වැස්සට තෙමිලා"
"නෑ! විදුලි ආඳෙකුගෙ වලිගය ඇදලා!"



## 8

එළි වනවා - රෑ වනවා - ටෙලිපෝනය නද දෙනවා,
"හලෝ", "හලෝ" - "කවුද?" "කවුද?"
හැම තිස්සෙම දොඩවනවා!
ට්‍රිං! ට්‍රිං! ට්‍රිං! ටිලිං! ටිලිං! ටිලිං! - ටෙලිපෝනය නද දෙනවා!
එළි වනවා - රෑ වනවා - අඩ නින්දෙන් ඇහැරෙනවා,
රෑ තිස්සෙම නින්ද නැතිව - එළි වන තුරු දොඩවනවා!
ටෙලිපෝනයෙ සීනු හඬින් - මුළු දවසම ට්‍රිං! ට්‍රිං! ට්‍රිං!

බැටළු පැටව් දෙදෙනෙක් සිත් තැවුලෙන්,
ඊයේ මා ඇමතුව ටෙලිපෝනෙන්:
"අවුරුදු සැනකෙළි ඊයෙන් ඉවර ද?
ඔන්චිල්ලා දෙක ගෙන ගියෙ කොයිබ ද?"

"තමුසෙල දෙන්නා මොනව අහනව ද?
ඔන්චිල්ලා දෙක කොහි ගෙනි යන්න ද?

සැනකෙළි පිටියේ අවුරුදු මේලා!
ඇත සවිකොට ලස්සන ඔන්චිල්ලා!

වටේට කැරකෙන, හරහට පැද්දෙන,
උඩගොස් ආපසු බිමට පහත්වන,
'මැරිගො රවුන්ඩ්' ගී තාලෙට කැරකෙන,
විනෝද වන්නට හරිම අගේ තැන!

තමුසෙල මොකවත් නැහැ නෙව දන්නේ,
ඇස් දෙක වහගෙනදෝ ඇවිදින්නේ?

යනවා, යනවා, දැන්මම යනවා,
නිවාඩු දවසේ විනෝද වෙනවා!"

## 9

කැන්ගරු රාළගෙ ගොරෝසු කටහඬ,
බොරළු වැටෙන කල මෙනි ටකරම උඩ!

"මේ රෙදි සෝදන අප්පුගෙ නිවස ද?"
"මොනව අහනවද තමුසෙට පිස්සු ද?"



"සමාවන්න, මට ලොකු පැටලීමක්!"
"කැන්ගරු රාළට පොඩි වැරදීමක්!"
"එහෙනම් කීයද එයාගෙ අංකය?"
"හතරයි - හතරයි - දොළහයි - විසිහය!"




## 10

දවස් තුනක් මේ විදිහට ගෙවුණා,
නින්ද නැතිව ඇස් රත් පැහැ ගැනුණා,
නැවතත් ටෙලිපෝනයෙ හඬ ඇසුණා,
මේවර කවුදැයි විපරම් කෙරුණා.

"හලෝ! හලෝ! මේ රෑ කාවද?"
"මම, රයිනෝ! තමුසෙට මතකද?"
"ආ! රයිනෝ! මේ මහ රෑ මොකටද?"
"හදිස්සියක්! මෙහි හනිකට එනවද?"

"පොළොව හෙලවුණ ද? ගේ ගිනි ගත්ත ද?"
"නෑ! හිපෝ හිරවෙලා මඩගොහොරුව මැද!

ඉක්මන් කරලා ඔබ නාවෝතින්,
අපේ 'හිපෝ'ගේ කාලය අවසන්!
මඩ ගොහොරුව පතුලටම ගිලේවී!
මැස්සෙකු වාගේ මැරිලා යාවී!"

"පුලුවන් වේගෙන් මං දුව එන්නම්,
ඕනැ උදව්වක් මමත් කරන්නම්!"

## 11

“හිපෝ වගේ ලොකු මස් පරුවතයක්,
ගොඩ ගන්නට ඕනෑ ට්‍රැක්ටරයක්!”





# අවුසද හාමි

සුදු ඇඳුමින් සැරසී රුක් සෙවනේ,
පරිසිඳු වෙද උතුමෙකි මේ ඉන්නේ!
සිනහව නොමැකෙයි කරුණා මුහුණේ,
අවුසද හාමිව කවුද නොදන්නේ?

හිසේ රුදාවට, වාතෙට, ඇම්මට,
හොඳ වෙද මහතෙකි ඕනැම ලෙඩකට.
උදේට ඇති වන බඩේ දැවිල්ලට,
ඇවිත් කියන්නෙත් අවුසද හාමිට.

බල්ලා, කුකුළා, හිවලා, ලේනා.
ඉත්තෑවා, කොටියා, බකමූණා,
මේ හැමගේ ලෙඩදුක් සුව කරනා,
අවුසද හාමී රටටම හපනා!

2

නරි නයිදේ කොර ගසමින් ආවා:
"ඌයි! මගේ අත රිලවා හැපුවා!"

'කඩියා' ලජ්ජාවෙන් ඇඹරෙනවා:
"රතු කිකිළී මගෙ නහයට කෙටුවා!"

එළවළු විකුණන සුදු රට හාවා,
විදුලිය වේගෙන් දුවගෙන ආවා:
"වල් ඌරගෙ බතල වත්තෙ,
අල හාරන ට්‍රැක්ටරයට,
පොඩි එකාගෙ පස්ස ගාතෙ,
අහු වුණානෙ හරි විදියට!"

"කකුල් දෙකම දැති අතරට,
හිර වුණාලු කිටි කිටියට!
යසට හිටිය පොඩි එකාට,
මේවා වෙන්නේ කරුමෙට!"

අවුසද හාමී හාවා සනසයි,
ලෙඩා ගෙනෙන්නට වහාම අණ දෙයි!
නව පන්නෙට ගැළපෙන සේ දෙපයක්,
මහලා දෙන්නට හැකි බව පවසයි!

හා අම්මා පැටියා ගෙන ආවා,
ලී මේසය මත ඌ සැතපෙව්වා.
සවි ඇති දෙපයක් හැඩයට මැහුවා!
හාවා සතුටින් පැන පැන දිව්වා!

වෙද මහතට අම්මා පින් දෙනවා,
හා පැටියා සතුටින් ඉපිලෙනවා:

"වැඩි වැඩියෙන් තව නුවණ වැඩෙන්නට,
අවුරුදු සියයක් ආයු ලබන්නට,
හැකිවෙයි ආදර අවුසද හාමිට,
පින් සිදුවෙයි මේ කළ උපකාරෙට!"






### 3

හිවලා පැදගෙන එයි සයිකලයක්,
ට්‍රිං! ට්‍රිං! ට්‍රිං! ට්‍රිං! විදුලිය පුවතක්!

අප්‍රිකාවෙ ඉඳලයි මෙය එන්නේ,
හිපපොටේමසුයි මේක එවන්නේ!

"නරක කාලයක් ලබලා අප හට,
අපගේ පොඩි වුන් හැමදෙන ලෙඩපිට!
බෙහෙතක් දෙන්නට, හිත සනසන්නට,
කිසිවෙක් මෙහි නැහැ උපදෙස් ගන්නට!

ඔබ එනවා නම් ලොකු සැනසිල්ලක්,
කිසිදා අමතක නොවන උදව්වක්!"

අවුසද හාමිට හරි කනගාටුයි,
දුක තේරෙන්නේ ලෙඩ වුණු දාටයි!

"නිතරම ඒ රටවල තුන්දා උණ,
කහ උණ, ගිනි උණ කාටත් බෝවෙන,
ගලපටලය, කොලරා, මහමාරිය,
බොහොම බයානක ලෙඩකි වසූරිය!"

"හොඳයි! හොඳයි! මම දැන්මම එන්නම්,
පොඩි පැටවුන් ටික බේරා ගන්නම්!"

"නුඹලා ඉන්නේ මහ කඳු උඩ දෝ?
එහෙමත් නැතිනම් වගුරු බිමේ දෝ?"





"සැන්සිබාරයෙයි අපේ පදිංචිය,
දකුණු පසින් ඇත්තේ 'කලහාරි'ය
උතුරෙන් 'සහරා' මහ වැලි තීරය,
ඒ මැද 'ලිම්පෝපෝ' මඩ වගුරය."

## 4

උස කඳුවැටි, ගම් බිම් පසු කරමින්,
ගංගා ඇල දොළ තරණය කරමින්,
නොබියව වන මැද පිරි කොටි වලසුන්,
අවුසද හාමී යයි මග ගෙවමින්!

ගමන් අපහසුයි ගල්කුළු අතරේ,
හිම කූනාටු, ගෙරවුම් හඬ පැතිරේ,
බිය ගෙන දෙන මේ රුදු ගිරි කතරේ,
වෙදනා දුබලව හිම මත වැතිරේ!

මුව පොව්වකු පිටුපස ලුහු බඳිනා,
වෘක රැලක් අසලින් දුව යන්නා,
අවුසද හාමී දැක එහි ඇදුණා,
වෘක රැලේ කාටත් දුක හිතුණා.

සැන්සිබාරයේ මහ වන මැද්දට,
'සහරා', 'කලහාරී', වැලි කතරට,
'ලිම්පෝපෝ' ඒ මහ මඩ වගුරට,
ගෙනයත හැකි බව කීවා ඔහු හට!

අවුසද හාමිව පිටෙහි තබාගෙන
දිව්වා වේගෙන් විදුලිය පරදන!





5

සැතපුම් ගණනක් ගොඩබිම පසුකොට,
අවුසද හාමී ආවා මුහුදට.
කඳු වැනි රළගෙඩි දුව එයි වෙරළට,
මුහුදේ රළු බව පෙන්වයි පෙණ කැට!

යන සැටියක් මහ මුහුදෙන් එතරට,
කොහොමටවත් නැහැ එන්නේ සිහියට.
හැකියාවක්වත් නැහැ පීනන්නට,
වෙද මාමා ළතැවෙයි වෙරළේ සිට!

සුවිසල් නැවකට නෑකම් කිව හැකි,
මෝරෙක් ආවා ගෙයක් ගිලිත හැකි!
ගමක සෙනඟකට හොඳ ඉඩකඩ ඇති,
පිට මත අවුසද හාමි නැග ගති!





## 6

අඹ, රඹුටන් ආදී නෙක පලතුරු,
නිල්වන් කෙත්වතු පලදාවෙන් සරු,
මහ ගල් පරුවත බැලුමට බියකරු,
අවුසද හාමී නරඹයි විසිතුරු!

දිග දිග කඳු වැටි ඔහු පසු කෙරුවා,
තව තව මහ ගල්කුළු හමු වූවා,
අහස උසට පරුවත දිස් වූවා,
මේ ගමනෙහි නම් ඉවරක් නැතුවා!
අවුසද හාමී වටපිට බැලුවා,
කඳු පරුවත මිස පාරක් නැතුවා!

හිසට උඩින් යම් කිසිවෙක් හඬ දෙන,
සද්දක් ඇහුණා ඇඟ හිරි වට්ටන!
වලාකුළක් සේ බිමට පහත් වන,
රාජාලියෙක් බැස එයි බිය ගෙන දෙන!

"එනවා දැක්කා මා ඔබ දුර සිට,"
ගැඹුරු හඬින් පවසයි වෙද මාමට.
"මට හැකි ඔබ පිට උඩ ගෙන යන්නට,
සැන්සිබාරයට, මහ වන මැද්දට!"

අවුසද හාමී ඌ පිට නැගුණා,
හීයක වේගෙන් ඉහළට නැගුණා!

## 7

වෙරළේ තල් ගසකට පිට දීගෙන,
මුහුද දෙසට තම නෙත් යොමු කර ගෙන,
වෙද මාමා එන පාර බලාගෙන,
හිපොපොටෙමස් සිටියා බුම්මාගෙන!

ඉමක් කොනක් කිසි කෙනෙකුට නොපෙනේ,
පරක් තෙරක් කවුරුත් නැහැ දන්නේ,
අප්‍රිකාව මෙලෙසයි දිස් වන්නේ,
දස දෙසටම එක ලෙස විහිදෙන්නේ.

අප්‍රිකාවෙ වන මැද ගස් අතරේ,
'ලිම්පෝපෝ' නම් මහ මඩ වගුරේ,
සුසුම් ලමින් මඩ ඌරා වැතිරේ,
උගෙ දුක්බර හඬ සැමතැන පැතිරේ!

දුකින් කරබා ගත්තු,
කොටි, සිංහ, අලි, ඇත්තු,
අඩි පාරවල් දිගේ,
හොර පාරවල් දිගේ,
වෙදතුමා සොයනවා,
විපරමින් බලනවා,
"මොකද වෙදනා අපේ,
තව නැත්තෙ?" අහනවා
"පුංචි පැටවුන් අපේ,
ලෙඩ දුකින් පෙළෙනවා!"

වල් ඌරු පැටවුන්ට - අජීර්ණය සෑදිලා,
උන් කාපු කැකුණ ඇට - තවම නැහැ දිරවලා!
කුකුළාට හඬලන්ට - බැරි තරම් අමාරුයි,
කසායක් වත් බොන්ට - මෙදා නම් සිද්ද වෙයි!

කනකොක් අප්පුගෙ දරුවන් තිදෙනා,
සතියක් තිස්සේ උණයෙන් පෙළුණා.
බකුසු මායියගෙ ඇස් ලොකු නැන්දා,
තුනටියෙ කැක්කුමකින් දුක් වින්දා!





ඌරාට මාන්දම - නරියාට වලිප්පුව,
අලියාට බඩයාම - ගෝනාගෙ උළුක්කුව,
කන්ට බෑ බොන්ට බෑ - ඇඟට කිසි පණක් නෑ,
පැනයන්ට දුවයන්ට - කකුල හොලවන්ට බෑ!

කපුටාට පණුගාය - හාවාට පාණ්ඩුව,
තල්මහගෙ පැටවුන්ට - හැදී දත් අමාරුව,
හිසේ හරි කැරකිල්ල - කලන්තය ඇරුනෙ නෑ,
ඇල් වතුර, උණු වතුර - කටටවත් ගන්න බෑ!
පැය ගණන්, දිනවලට - සතිවලට හැරෙනවා,
වෙදතුමා එයි කියා - මඟ බලා ඉන්නවා!



**8**

අහස වැහෙන තටු යුවලක්,
කෙක්කක් වැනි වකුටු හොටක්,
ඇති බියකරු කුරුළු රජෙක්,
සොයයි බිමට බහින තැනක්!

ඌ පිට උඩ සුදු ඇඳුමින්,
අවුසද හාමියි ඉන්නේ!
අප සැමටම අත වනමින්,
අප වෙතටයි ඔහු එන්නේ!

සති ගණන් වෙහෙසිලා - මහන්සිය නොම බලා,
අහිංසක අප බලා - වෙදතුමා ඇවිල්ලා!




එහෙ දුවයි - මෙහෙ දුවයි
වෙදතුමා ලෙඩ බලයි.
දිව අදියි - කන බලයි,
බඩත් මිරිකා බලයි.
වෙදබටය කනෙහි ලා,
හුස්ම ගන්නට කියයි
ආශ්වාස - ප්‍රශ්වාස,
කරන්නට අණ කරයි.
උණකටුව දිව යටින්,
තබා උණ මැන බලයි,
කටේ දත් තිස්දෙකම,
තට්ටු කරලා බලයි.

නරක දත් සියල්ලම
උගුල්ලා ඇද දමයි!

ඔටුවාට ඇස්පිරින්,
කිඹුලාට ඩිස්පිරින්!
අලියාට කොහොඹ කොළ,
වලසාට දෙළුම් කොළ!

පොල්පලා, ගෙඳපලා,
එක පතට හිඳවලා,
මේස හැන්දෙන් එකක්,
දවසකට තුන් වරක්!

නරියාට බඩ යන්ට,
අරළු, බුළු, කසායයි.
ඊට පසු නවතින්ට,
බෙලිමුලෙන් නැලි දෙකයි!

කෑම බීමක් නැතිව,
දස දිනක් නිදි නැතිව,
වෙදතුමා උණ බලයි,
නාඩි අල්ලා බලයි,
දණිස් පොල්කටුවලට,
මිටියකින් ඇන බලයි!





## 9

සනීපයි! සනීපයි! හැමෝටම සනීපයි!
වෙදතුමාගේ බෙහෙත් හැම ලෙඩේටම ගුණයි!
හැමෝටම විනෝදයි - ‘ලිම්පොපෝ’, ‘ලිම්පොපෝ’
ඇඟට දැන් සනීපයි - ‘ලිම්පොපෝ’, ‘ලිම්පොපෝ’

තල්මසා ප්‍රීතියෙන් - කිඹුලාට ඉඟිමරයි,
දකුණු ඇස වසාගෙන - වම් ඇසින් හැර බලයි!

දිය දෙබෑ කරවමින් - දිය යටින් කිමිද යයි,
පළාතම හෙළවෙන්ට - මහ හඬින් සිනාසෙයි.

හිපපොටේමස් පැට්ටු - හරිම දඟ කාරයෝ,
දුවති කරමින් තට්ටු - හරිම සැර කාරයෝ!
උන් එන්නෙ 'ලිම්පොපෝ' වගුරුබිම්වල සිටයි,
දැන් යන්නෙ 'කලහාරි' වැලි කතර අතරටයි!



# කාටත් පාඩමක්

ඇඳ ඇතිරිලි මාගේ,
ඇඳෙන් බිමට පැන යතී.
බැලුන් බෝලයක් වාගේ,
උඩු ගුවනේ පාවෙතී!

පැන යන ගෙම්බෙකු වගේ,
හැසිරෙයි කොට්ටය මගේ!

එළියක් දල්වන්නට අත පෑවා,
ඉටිපන්දම උදුනට පැන දිව්වා!

පාන්දරින් තේ බොන්නට සිතුණා,
'සමොවාරය' අසළට පිය නැගුණා.
මා දැක බියකින් මෙන් ගල් ගැසුණා,
කෝප්ප, පීරිසි පැන යයි සැණිනා!

මේක හරි පුදුමයක්,
හීනයක් වගේ මයි!
මෙහෙම සක බමරයක්,
දකින්නෙත් අද තමයි!

ලාච්චුව පිටුපසින් සපත්තුව දුවනවා,
සපත්තුව පරදන්ට සෙරෙප්පුව පනිනවා,
සෙරෙප්පුව පසුපසින් කරත්තය ඇදෙනවා,
මේ හැමට පිටුපසින් මගේ පොත් දුවනවා!

ගල්කුර, පැන්සලය, රතුපාට පින්සලය,
තාත්තගෙ හම්පටිය, අම්මාගෙ කේතලය,
එකක් පසුපස එකක් වේගයෙන් දුවනවා,
රෝදයක් වගේ මා වටේටම කැරකුණා!





හිටි හැටියෙම මැද සාලය පැත්තෙන්,
කවුදෝ එනවා මහ කලබොලයෙන්.
සාලයෙ දොර ඇරුණා හඬ නගමින්,
ලොකු දිය බේසම එයි කොර ගසමින්!

බේසම මා ඉදිරියටම ආවා,
හිස සිට දෙපතුල දක්වා බැලුවා!
දැනමුත්තකු ලෙස හිස සෙලවූවා,
මා අමතා ඔහු මේ ලෙස කීවා.

"අළුයම ඇඟ පත නැහැ සෝදන්නේ,
දත් නැහැ මැද හිස පීරා ගන්නේ!
මඩ ඌරකු වාගෙයි නුඹ ඉන්නේ,
පිරිසිදු කම නැහැ බිඳුවක් දන්නේ!"

"දෑතෙහි ඇත කුණු පැල්ලම් බැඳිලා,
කලිසම පැන යයි නුඹ අත හැරලා!
දූවිලි පිරි දෙපයේ ඉව දැනිලා,
ඇඳ රෙද්ද, ඇතිරිලි යයි බිය වැදිලා!"

"කම්මැලිකම් දුරලතී - පාන්දරින් නැගිට්ටී,
මී පැටියෝ එක්වෙතී - දිය නෑමට දුව යතී.
පූස් පැටව්, තාරාවෝ - උදෙන්ම ගඟ වෙත ආවෝ,
ලේන් පැටව්, රට හාවෝ - හොඳ හැටි පිරිසිදු වූවෝ."

"අපිරිසිදුව ඉන්න එකම,
කිලිටු පාල නුඹ තමයි!
නුඹට අයිති හැම දෙයක්ම,
නුඹ හැරදා පැන දුවයි!"

"සබන් කැටය, දත්කුඩු සැරදේවා!
පනාව, දත් බුරුසුව වැජඹේවා!
තුවාය, බේසමටත් ජය වේවා!
පිරිසිදුකම මුළු ලොව පැතිරේවා!"

උදය හවස නොවරදවා හැමදින,
ඇඟපත සෝදා ගතහොත් සැමදෙන,
බාල, මහලු, කාටත් එය ගැළපෙන,
අගනා ඔසුවකි ලෙඩදුක් දුරලන!



වැව්, ළිං, ගංගා, ඇල, දොළ, සැමතැන,
ගැලොම් දහස් ගණනින් අපතේ යන,
කවදාවත් මුදලක් අය නොකරන,
පිරිසුදු ජලයෙන් පිරිසුදු වනු මැන!



"හැම බේසමටම ලොවේ,
නායක බේසම මමයි,
මගේ බේසම් හමුදාවේ,
අණ දෙන්නා මා තමයි!"

"පය බිම ගැසූ පමණින් මා අණසක,
පිළි ගෙන හේවායෝ එති නොව සැක!"

"මහ සයුරේ රළගෙඩි නංවන හඬ,
සිහියට නැග එයි උන් නගනා හඬ!"

"බේසම් හමුදාවේ හේවායෝ,
සෝදන වැඩටම උපන් සූරයෝ!"

"උණු දිය පුරවා ලොකු බේසමකට,
රෙදි සෝදන කුඩු දියකර පදමට,
පොල් කොස්සක් පොඟවා එහි කදිමට,
උන් හරි සූරයෝ කුණු ගැලවීමට!"

"කරබරාස්", බේසම අණ දුන්නා!
හඬ නගමින් හේවායෝ එන්නා!

පැන යන්නට මා ආපසු හැරුණා,
බේරෙන හැටියක් නැති බව පෙනුණා!





කෑ කෝ ගසමින්, පොල්කොසු වනමින්,
හෙණ හඬ පරයන ලෙස පා තබමින්,
ඇද්දා, මැද්දා, ඉලුවා, අවිදින්!
කොහොමත් බේරීමක් නෑ උන්ගෙන්!

සබන් කෑල්ලක් පැනගෙන ආවා!
මා හිස මත ඒ මේ අත දිව්වා!
පෙණ ගොඩකට මොහොතින් මැදි වූවා,
බලන අයට නම් සෙල්ලම් මේවා!

වැටකොළු කොස්සක් පස්සෙන් ආවා,
හිස සිට දෙපතුල දක්වා දිව්වා,
පිට රතු වන තුරු ඌ බඩ ගෑවා,
මා යන හැම තැනටම දුව ආවා!

කාමරයෙන් මා මිදුලට පැන්නා,
දුවන්ට පැත්තක් සොයමින් උන්නා.

වැටට උඩින් පැන අල්ලපු වත්තට,
මහන්සි ඇරලා බැලුවා වටපිට.

වක්කඩ ගාවින් ගොඩවී නියරට,
කවුදෝ එනවා අපෙ ගේ පැත්තට.
දවසේ තොරතුරු හෙම දැන ගන්නට,
කිඹුල් මාම එන්නේ හොඳ දවසට!

වැටකොළු කොස්සත් පස්සෙන් ආවා,
මාමා එය එක කටටම කෑවා!
ඇස් දෙක ඔරවා මා දෙස රැව්වා,
අඩි හප්පා ඔහු මට සැර වූවා.

"වහාම නොගියොත් ඇඟ සෝදන්නට,
දෙනවා ගුටියක් මතක හිටින්නට!"

"ආයෙත් කවදාවත් නොකරන්නට,
ගිල දමනව සත්තයි එක උගුරට!"

මෙදා පොටේ එන හැටිනම් හරි නෑ,
කිඹුල් මාමගේ හැඩරුව හොඳ නෑ,
කිව්වොත් කිව්වා, කතා දෙකක් නෑ,
මාම එක්ක ඔය වැඩි සෙල්ලම් නෑ!

දුන්නෙන් ගිලිහුණු හීයක් වාගේ,
දිව්වා බේසම අසලට මාගේ!

සබන් කැටය ගත්තා මා සුරතට,
අත පය සෝදා ගත්තා කදිමට.

දූවිලි, මඩ, කුණු සෝදා දැමුවා,
තීන්ත පැල්ලම් එකකුදු නැතුවා!

මුහුණත් මගෙ හරි ලස්සන පාටයි,
බලන්නටත් කාටත් හොඳ පිරියයි.





පාඩම් පොත්, කොපි පොත්, මුද්දර පොත්,
පැන්සල්, පින්සල්, යස සිත්තම් පොත්,
සෙල්ලම් බඩු, ගල්කූරු, ගණන් පොත්,
ළඟටම එනවා මේ දේ කෝකත්!

කැවුමක් දුව විත් පැන්නා කටටම!
කිරිබත් කැටයක් ආවා අතටම!

දකුණු අතේ මගෙ ලොකු අඹ ගෙඩියක්,
වම් පැත්තෙන් පැණි හැලෙන වළල්ලක්!

පොල්කොහු සේනාවෙන් වැඩ ගන්නා,
බේසම් හමුදාවේ අණ දෙන්නා,
ඒ ලොකු බේසම් ලොක්කා එන්නා,
ආදරයෙන් මා ගෙන සිඹ ගන්නා!

"හොඳ ළමයෙකු හැටියට පිළිගන්නට,
පුළුවනි ආදර පැංචෝ දැන් මට!
එක දවසට ඇති වූ මේ වෙනසට,
මට නම් බැහැ සිත අදහා ගන්නට!"



# නැතිවුණු හිරු

හිරු කුමරිය නිල් අහසේ - රැස් පතුරා බැබළුණා
කන්ද උඩින් පාවී ආ - වලාකුළට සැඟවුණා
කෑලි කපා ගත හැකි තරමට කළුවර පැතිරුණා
හා පැටියා ජනේලයෙන් - එබිකම් කර බිය වුණා

වෙල්වල සිටි බට්ටිච්චෝ - බිය වැදිලා නද දෙන්නා
ගස්වල ලැගි පොල්කිච්චෝ - දස අතට ම ඉගිලෙන්නා
මඩ කනයින් අහුලා කන - කණ කොක් රැළ අමතන්නා,
කිඹුල් මොටෙක් හිරු කුමරිය - ගිල ගත් බව පවසන්නා

ඇහැට ඇඟිල්ලෙන් ඇන්නත් - නොපෙනෙන තරමට අඳුරුයි
ගෙදරින් එළියට බැස්සොත් - මං මත් වන බව සිකුරුයි!





අහිසංක බට්ච්චා - සෝදුකින් හඬනවා
හිරු කුමරි අමතමින් - උගේ දුක කියනවා:
"කෑම අහුලා කන්ට - කළුවරේ අපහසුයි,
හිරු එළිය පොදක්වත් ලැබෙනවා නම් අගෙයි"

දොළ ළඟ නිල් තණ පිටියේ - ලෑටි ගාන සුදු හාවෝ
ගෙවල් කරා යා නොහැකිව - එක පොදියට ගුළි වූවෝ.

වපරැස් ඇති රතු කක්කුටු නයිදේ,
නියර දිගේ තම ගුල වෙත් ඇද්දේ.
වෘක පැටවු නඟනා ඒ සද්දේ,
ගොදුරක් වට කරගෙන යම යුද්දේ!





බැටළු නාම්බෝ දෙදෙනෙක් දුර සිට,
ආවා කැළයේ දොරටුව ගාවට,
සැම දෙන කැඳවා මැද තණ පිටියට,
ගැඹුරු හඬින් උන් කීවා මෙලෙසට:

"යාළුවනේ, එළියට බැහැපල්ලා!
කිඹුල් මොටා තද කර ගනු අල්ලා!
ඇතිවන්නට ගුටි බැට දීපල්ලා!
හිරු කුමරිය අරගෙන දුවපල්ලා!"

"කිඹුලා නපුරෙකි, දිග උල් දත් ඇති,
හිරු කවදාවත් අප හට නොලැබෙති!"
එහි රැස් වූවෝ මේ ලෙස පවසති,
බියගුල්ලෝ, උන් සටනට අකමැති!

වන මැද වසනා වලසා හමුවට,
සැම දෙන දුව ගොස් පවසති මෙලෙසට:
"කම්මැලි රාළේ පය ලෙව කන්නට,
හැකි වෙයි අපෙ හිරු ආපසු ගත් විට!"

හැඩි දැඩි සවිමත් සිරුරක් තිබුණට,
වලසා නොකැමැත්තෙකි මේ සටනට,
සිතිවිල්ලේ ඇවිදියි වට රවුමට,
කොහොමත් බැහැ තීරණයක් ගන්නට!



වනයේ මං මත් වූ දරු පැටවුන්,
සොයමින් ඌ ඇවිදියි දුක කියමින්!

වලස් හාමිනේ ගස් ගල් පෙරළයි,
'පුන්ඩා' 'ගුණ්ඩා' සොයමින් දුව යයි!
දරු දුක ඇති වී දරුවන් අමතයි,
මුළු කැලයම ඈ උඩ යට පෙරළයි!

"මගෙ දරු පැටියෝ කෙහෙදෝ ඉන්නේ?
මේ දුක කොහොමද මා ඉවසන්නේ?

වළකට වත් වැටිලාදෝ නොදනිමි!
ගලකට යට වී යැයි මං නොසිතමි!
දඩ බල්ලන් සැපුවා දැයි බිය වෙමි!
බඩගිනි නොතකා දරුවන් සොයනෙමි!"

මුළු දවස ම වැලහින්න සෙවිල්ලේ,
ඇවිදියි බලමින් හැම අහුමුල්ලේ.





නොකා නොබී පසුවෙයි ළතැවිල්ලේ,
කෙසේ සිටින්න ද ඈ සැනසිල්ලේ?

මුළු වනය ම ඈ පීරා බැලුවා,
එක පැටවකුවත් දක්නට නැතුවා!
පීරිසි වැනි මහ කළු ඇස් ඔරවා,
බස්සෝ වැලහින්නිය බය කෙරුවා!

හා නයිදේ ගුලකින් හිස ලෑවා,
ඇය අමතා ඌ මේ ලෙස කීවා:

"හාවකු මෙන් කුමකට වැලපේදෝ?
ඔබ වලසකු බව අමතක වීදෝ?

වංගෙඩි කකුලෝ දුවලා පලයන්!
කිඹුල් මොටාගේ ඇඟට ම පැනපන්!

ඌ බිම පෙරළා බඩ සූරාපන්!
වලිගෙන් අල්ලා පොළොවේ ගහපන්!

දිග දත් ඇති හකු දෙපසට ඇදපන්!
දත් අතරින් හිරු එළියට අරගන්!
හිරු කුමරිය විගසින් බේරාගන්!
දැක ගන්නට හැකිවෙයි නුඹෙ දරුවන්!"

වැලහින්නිය පරුවත ඇඟ සොළවා,
වනපෙත හෙළවෙන්නට කෑගැසුවා!
ගස්වැල් පීරා ගඟ වෙත දිව්වා,
ගඟ අද්දර සොර කිඹුලා සෙව්වා!

කිඹුලා ගං ඉවුරේ නිවි හැල්ලේ,
සැප නින්දක වැටිලා සුදු වැල්ලේ,
දත් අතරින් පැහැයට ගිනි දැල්ලේ,
බැබැලෙයි හිරු හකුපාඩා මුල්ලේ!

හිමින් සීරුවේ බැස ගං ඉවුරට,
වලසා ආවා කිඹුලා ගාවට.

නොබියව කිඹුලගෙ ඇලයට ඇන්නා,
බියකරු හඬකින් ඌ මොර දුන්නා:

"තක්කඩි කිඹුලෝ මා දෙස බලපන්!
හොරකම් කළ හිරු ආපසු දීපන්!
නැති නම් හොඳ හැටි අල්ලා බෙල්ලෙන්,
පෙරළා දමනව පහළට කන්දෙන්!

මතක හිටින්නට කෑමක් දෙන්නම්!
හොරකම් කරනා හැටි පෙන්වන්නම්!
නැවතත් නොකරන් මේ වගෙ මැරකම්!
උඹෙ මේ සෙල්ලම්, හැමට ම ලෙල්ලම්!"





"හා! හා! හා!" කිඹුලා ගෙරවූවා,
කඳුළු වැටෙන තුරු කොක් හඬ ලෑවා.

"දැනුමුතුකම් දෙන්නද නුඹ ආවේ?"
හඬත් ගිලින බවමය ඌ කීවේ.

ඉවසීමේ සීමාවත් පැන්නා,
වලසා කිඹුලගෙ හොම්බට ඇන්නා,
බෙල්ලෙන් අල්ලා වැල්ලෙහි ඇන්නා,
හිරු දෙන තුරු උගෙ පිට උඩ උන්නා.

කිඹුලට වැඩ වරදින බව දැනුණා,
උගුරේ කෙළ ටික එතැන ම හිඳුණා,
සීතල ඩහදිය බිඳු පැන නැගුණා,
හොර කිඹුලට දහවල් තරු පෙනුණා!

දත් ඇඳි අතරින් රන්වන් පාටින්,
දිලිසෙන හිරු නිල් අහසට නැගුණා.
ගස්වැල් අතරින් එන රැස් දහරින්,
මුළු පෙදෙස ම හිරු එළියෙහි ගිලුණා.



සැරදේ! සැරදේ! හිරු කුමරිය,
ඔබ මුළු ලෝ පිබිදෙව්වා!
සැරදේ! සැරදේ! නිල් ගුවන් තලේ
ඔබ සැමදා වැජඹේවා!

ගිරා, මලිතී ගී නාදය හැම තැන
රැව් පිළි රැව් දුන්නා!
නැටුම් ගැයුම් ගී තාලෙන් සැම දෙන
සතුටින් ඉපිලෙන්නා!

බළල් පැටව් මෙන් සිඟිති සිහින්,
වලස් පැටව් එති උඩ පනිමින්,
තුරුලට වැදිලා හරි සතුටින්,
නැලවෙති සුරතල් බස් දොඩමින්.

වලස් අම්මා බැහැ දකින්නට,
කැලේ හැම සතකු ම ඇවිල්ලා,
වලස් හාමිට තෑගි දෙන්නට,
ලොකු ම මී වදයක් ගෙනල්ලා!

# අපූරු කතා

කාර්නේ චුකොව්ස්කි

ISBN 978-955-1319-34-2

චිත්‍ර:

කාටත් පාඩමක්
**අ. කොනෙව්ස්කි**

නැතිවුණු හිරු
**යූ. වස්නෙට්සොව්**

ටෙලිපෝනය
**ව්. කොනෙෂේවිච්**

අවුසද හාමි
**ව්. සුතේයෙව්**

නව පරිගණක සැකසුම
**මාලක ලලනජීව**

ප්‍රකාශනය



**සී/ස ප්‍රගති ප්‍රකාශන නිවස**
91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08

මුද්‍රණය




ප්‍රථම මුද්‍රණය 2014

